ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

GIT 01 S I, II

## සාමාන්‍ය තොරතුරු තාක්ෂණ විභාගය, 2016
## பொதுத் தகவல் தொழினுட்பவியல், 2016
## General Information Technology Examination, 2016

සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I, II
பொதுத் தகவல் தொழினுட்பவியல் I, II
General Information Technology I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

### සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I

**වැදගත් :**

* **සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු** ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයෙහි සපයන්න.
* පිළිතුරු පත්‍රයේ විභාග අංකය සඳහා ඇති ස්ථානයේ **විභාග අංකය** ලියන්න.
* පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් සැලකිල්ලෙන් කියවා, ඒවා පිළිපදින්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි** හෝ **වඩාත් ගැළපෙන** හෝ පිළිතුර තෝරාගෙන, දී ඇති උපදෙස්වලට අනුව ලකුණු කරන්න.

**1.** 35 නම් දශමය සංඛ්‍යාවට තුල්‍ය වන ද්විමය සංඛ්‍යාව පහත සඳහන් කුමක් ද?
(1) 100001 (2) 100011 (3) 101011 (4) 101010

**2** විද්‍යුත් තැපැල් ලිපිනයක් තුළ සැමවිට ම පැවතිය යුතු සංකේතය වන්නේ පහත සඳහන් කුමක් ද?
(1) : (2) @ (3) _ (4) /

**3.** පහත රූප සටහන සලකා බලන්න.




ඉහත රූප සටහනේ පෙන්වා ඇති ස්ථානීය පෙදෙස් ජාලයේ (LAN) Ⓐ ලෙස නම් කර ඇති උපක්‍රමය (device) වන්නේ පහත සඳහන් කුමක් ද?
(1) දොරටුමග (Gateway) (2) ජාල අතුරු මුහුණත් පත (NIC)
(3) ස්විචය (Switch) (4) මොඩමය (Modem)

**4.** පහත සඳහන් යෙදුම් පැකේජ සලකා බලන්න:
A - දත්ත සමුදාය යෙදුම් පැකේජ
B - සමර්පණ පැකේජ
C - පැතුරුම්පත් පැකේජ
දත්ත ආචයනයට හා සැකසීමට (process) භාවිත කළ හැක්කේ ඉහත සඳහන් ඒ අතුරෙන් කවරක් ද?
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

**5.** ඒකාකාර සම්පත් නිශ්චායකය (URL) හි නිවැරදි ආකාරය වන්නේ පහත සඳහන් කුමක් ද?
(1) http:/www.doenets.lk/exam/ (2) http://www.doenets.lk/exam/
(3) html://www.doenets.lk/exam/ (4) http:\\www.doenets.lk\exam\

[දෙවැනි පිටුව බලන්න.

6. දර්ශීය වෙබ් අතරික්සුවක මෙවලම් තීරුවක කොටසක් පහත රූපයේ දක්වා ඇත.

← → ↻ ⌂

සක්‍රිය ← බොත්තම මත ක්ලික් කරනු ලැබුවහොත් සිදු විය හැකි යෝග්‍යතම ප්‍රතිඵලය තෝරන්න.
(1) පෙර වෙබ් පිටුවට හෝ වෙබ් අඩවිය වෙත ගමන් කරයි.
(2) සැමවිට ම වෙබ් අඩවියේ මුල් පිටුවට (homepage) ගමන් කරයි.
(3) ඊළඟ වෙබ් අඩවියට ගමන් කරයි.
(4) වෙබ් අතරික්සුව වසා දමයි (Close).

7. දිගු කාලයක් පරිගණකය භාවිත කිරීමෙන් ඇති වන සෞඛ්‍යමය ගැටලු මඟහැරීම සඳහා නිර්දේශ කරනු ලබන්නේ පහත කුමන කරුණ ද?
(1) සෑම මිනිත්තු 30කට වරක් ම විවේකයක් ගැනීම
(2) කුඩා තිරයක් සහිත පරිගණකයක් භාවිත කිරීම
(3) මූසිකය භාවිතයට වඩා නිරන්තරයෙන් යතුරු පුවරුව භාවිත කිරීම
(4) වඩා ප්‍රීතිජනක පරිගණක ක්‍රීඩාවල යෙදීම

8. යාබදව නොපවතින (non-contiguous) ගොනු යාබද ගොනු (contiguous) බවට වෙනස් කිරීමෙන් දෘඪ තැටියක ක්‍රියාකාරීත්වය ප්‍රශස්ත කිරීම සඳහා මෙහෙයුම් පද්ධතියක ඇති උපයෝගිතා මෙවලම (utility tool) වන්නේ කුමක් ද?
(1) අනුලක්ෂ්‍යයේ සිතියම (Character Map)
(2) සම්පත් තිරය (Resource Monitor)
(3) ඩිස්ක පිරිසිදුකරණය (Disk Cleanup)
(4) ඩිස්ක නිර්භාගිකාරකය (Disk Defragmenter)

9. පහත සඳහන් දෑ අතුරෙන් වදන් සකසන මෘදුකාංගවල පවතින පහසුකම් මොනවා ද?
A - අක්ෂර විශ්ලේෂකය සහ සමාන්තර ශබ්දකෝෂය (Spell Checker and Thesaurus)
B - පිටු දිශානතිය (Page Orientation)
C - ලිපි යොමු (Mail merge)
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

10. 10001011 නම් වූ ද්වීමය සංඛ්‍යාවට තුල්‍ය දශමය සංඛ්‍යාව කුමක් ද?
(1) 113 (2) 139 (3) 213 (4) 231

11. හිස්තැන් දෙකක් සහිත පහත දැක්වෙන වගන්තිය සලකා බලන්න:
අන්තර්ජාලය යනු .................................. වන අතර වෙබ් යනු ..................................... කි.
ඉහත වගන්තියෙහි හිස්තැන් පිරවීම සඳහා වඩාත් යෝග්‍ය වන පද අනුපිළිවෙළින් ඇතුළත් වන්නේ පහත සඳහන් කවර පිළිතුරෙහි ද?
(1) පරිගණක ජාලවල ජාලයක්, ඒකාකාරී සම්පත් නිශ්චායකයක් (URL)
(2) පරිගණක ජාලවල ජාලයක්, තොරතුරු එකතුව
(3) තොරතුරු ප්‍රභවයක්, භෞතික සම්බන්ධතාව
(4) සේවාදායක එකතුවක්, ජාල සම්බන්ධතාව

12. පහත සඳහන් වගන්ති සලකා බලන්න:
A - ඇඹරි යුගල කේබල (Twisted pair) දත්ත සන්නිවේදන මාධ්‍ය ලෙස තඹ භාවිත කරයි.
B - ප්‍රකාශ තන්තු කේබල (Optical fibre) දත්ත සන්නිවේදන මාධ්‍ය ලෙස ආලෝක තරංග භාවිත කරයි.
C - ඇඹරි යුගල කේබලවල දත්ත සන්නිවේදන වේගය ප්‍රකාශ තන්තු කේබලවලට වඩා වැඩි වේ.
ඉහත සඳහන් කුමක් සත්‍ය වේ ද?
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

13. අන්තර්ජාලයේ සේවාවන් පමණක් පෙන්වනුයේ පහත සංයෝජන අතුරෙන් කවරකින් ද?
(1) විද්‍යුත් තැපැල් සහ HTTP
(2) විද්‍යුත් තැපැල් සහ වෙබ් අතරික්සුව
(3) විද්‍යුත් තැපැල් සහ ගොනු තැන් මාරුව (File transfer)
(4) HTTP සහ ගොනු තැන් මාරුව

14. හිස්තැනක් සහිත පහත දැක්වෙන ප්‍රකාශය සලකා බලන්න:
දත්ත සමුදායක් දත්ත ......................... ක ආචයනය කිරීමට (store) භාවිත කරනු ලබන්නේ පේළි හා තීරු ය.
ඉහත වගන්තියේ හිස්තැනට වඩාත් ම සුදුසු පදය වන්නේ කුමක් ද?
(1) විමසුම (query) (2) වගුව (table) (3) රෙකෝඩය (record) (4) ක්ෂේත්‍රය (field)

15. දත්ත කළමනාකරණ පද්ධති (DBMS) සඳහා පමණක් උදාහරණ වන්නේ පහත සඳහන් කවරක් ද?
(1) MS Access, MySQL, OpenOffice.org Base
(2) MS Access, Excel, MySQL
(3) DB2, Excel, MySQL
(4) MS Access, MySQL, Excel

/තුන්වැනි පිටුව බලන්න.

**16.** හිස්තැන් සහිත පහත ප්‍රකාශය සලකා බලන්න:
දත්ත සමුදායක ඇති තනි භූතාර්ථගත (single entity) තොරතුරු අඩංගු වන්නේ ..........................ක ය.
ඉහත වගන්තියේ හිස්තැනට වඩාත් ම සුදුසු පදය වන්නේ කුමක් ද?
(1) වගුව (2) කෝෂය (3) ක්ෂේත්‍රය (4) තීරුව

**17.** කිසියම් නිරීක්ෂණ තුනක් හා විය හැකි හේතු පිළිවෙළින් 1 වන හා 2 වන තීරුවල ඇතුළත් වගුවක් පහත දැක්වේ. මෙම නිරීක්ෂණ හා හේතු නිවැරදි ගැළපීමෙන් යුතුව ඉදිරිපත් කර නොමැත.

| නිරීක්ෂණය | හේතුව |
|---|---|
| ① ෆෝල්ඩරයක ඇති ගොනු ස්වයංක්‍රීයව ප්‍රතිවලිත වේ. (replicated) | Ⓟ උපස්ථයක් (backup) ගෙන නොමැත. |
| ② හදිසියේ මැකී ගිය ගොනුවක් ප්‍රතිසාධනය කරගත නොහැක. (recover) | Ⓠ වයිරස් ආසාදනයක් විය හැකි ය. |
| ③ ගොනුවක් ආචයනය කිරීමට යාමේ දී 'තැටියේ ඉඩ නොමැත' යන පණිවිඩය දිස්වේ. | Ⓡ දෘඪ තැටිය ගොනුවලින් පිරී පවතී. |

1 වැනි තීරුවේ ඇති නිරීක්ෂණවලට ගැළපෙන 2 වැනි තීරුවේ ඇති හේතූන් නිවැරදි ව පිළිවෙළට දැක්වෙන්නේ පහත කවර පිළිතුරෙහි ද?
(1) ① → Ⓟ, ② → Ⓡ, ③ → Ⓠ
(2) ① → Ⓟ, ② → Ⓠ, ③ → Ⓡ
(3) ① → Ⓠ, ② → Ⓟ, ③ → Ⓡ
(4) ① → Ⓡ, ② → Ⓠ, ③ → Ⓟ

**18.** පහත වගන්ති සලකා බලන්න:
A - දුරස්ථ ඉගෙනුම් පරිසරයක දී සිසුන්ට තම නිවසේ සිට ඕනෑම වේලාවක දී ඉගෙනුම් ද්‍රව්‍ය වෙත ප්‍රවේශ වීමට හැකියාව ලැබෙන අතර සාම්ප්‍රදායානුකූල පන්ති කාමර ඉගැන්වීම් සඳහා සහභාගී වීමට නොහැකි විට දී පහසුවෙන් මෙම පාඩම් සඳහා සහභාගී වීමට හැකි ය.
B - ජංගම උපක්‍රම වැනි නවීන තාක්ෂණය භාවිත කරමින් ගොවීන්ට වගා කිරීමට සුදුසු භෝග, භෝගවල තත්කාලීන මිල වැනි තොරතුරු රජය විසින් ලබා දිය හැකි ය.
C - දුර ගමන් සේවා දුම්රිය හා බස් රථවල ප්‍රවේශ පත්‍ර ජංගම උපක්‍රම මගින් කලින් වෙන් කරවා ගැනීම සඳහා නව තාක්ෂණික පහසුකම් සැලසී ඇත.
ඉලෙක්ට්‍රෝනික සේවාවක් (e- සේවාවක්) සඳහා උදාහරණ වන්නේ ඉහත සඳහන් කවරක් ද?
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

**19.** පහත සඳහන් කවර ආකාරයකින් ඔබේ පරිගණකයට වයිරසයක් සම්ප්‍රේෂණය විය හැකි ද?
A - විද්‍යුත් තැපැල් හෝ විද්‍යුත් තැපැල් ඇමුණුමකින්
B - අන්තර්ජාල බාගත කිරීම්වලින්
C - සැනෙලි මතකයන් (flash memory) වැනි ඉවත් කළ හැකි ආචයන උපක්‍රම පොදුවේ භාවිතයෙන්
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

**20.** පහත වගන්ති සලකා බලන්න.
A - MS-DOS මෙහෙයුම් පද්ධතිය විධාන පේළි අතුරුමුහුණත (CLI)ක් භාවිත කරයි.
B - ඉසුරු ලිනක්ස් සහ හන්තාන ලිනක්ස් යනු ශ්‍රී ලාංකිකයින් විසින් දේශීයකරණය කරනු ලැබූ විවෘත ප්‍රභව මෙහෙයුම් පද්ධති දෙකකි.
C - මයික්‍රොසොෆ්ට් වින්ඩෝස් යනු චිත්‍රක පරිශීලක අතුරු මුහුණතක් (GUI) නොමැති මෙහෙයුම් පද්ධතියකි.
ඉහත වගන්තිවලින් නිවැරදි වන්නේ කුමක් ද?
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

**21.** ලේඛනයක ඇති ඡේද ලකුණු සහ අනෙකුත් සැඟවුණු හැඩසව් සංකේත බලාගැනීමට (දිස්වීමට සැලසීම) සඳහා වදන් සකසන මෘදුකාංගයක භාවිත කරනු ලබන නිරූපකය කුමක් ද?
(1) (2)  (3)  (4) 

**22.** ඔබ වදන් සකසන මෘදුකාංගයක් භාවිතයෙන් පිටු 2ක්න් යුත් ලේඛනයක් යතුරු ලියනය නිමා කළ මොහොතක් උපකල්පනය කරන්න. මෙම අවස්ථාවේ දී ඔබගේ මුද්‍රණ යන්ත්‍රය ද සූදානම් තත්ත්වයේ පවතින බව සලකන්න. මෙම ලේඛනය මුද්‍රණය කරගැනීම සඳහා වඩාත් ම යෝග්‍ය ක්‍රමය කුමක් ද?
(1) Print Screen යතුර භාවිත කිරීම
(2) CTRL + P යතුරු සංයෝජනය භාවිත කිරීම
(3) ALT + P යතුරු සංයෝජනය භාවිත කිරීම
(4) CTRL+ Enter යතුරු සංයෝජනය භාවිත කිරීම

/හතරවැනි පිටුව බලන්න.

23. ගානු විසින් ඊයේ සකස් කරන ලද ලේඛනයක් සංස්කරණය කරමින් සිටී. මෙම ගොනු (ලේඛනය) නිවැරදි ව ආචයනය (save) කරගැනීම සම්බන්ධයෙන් පහත දී ඇති වගන්ති අතුරෙන් නිවැරදි වන්නේ කුමක් ද?
(1) 'save' විකල්පය වෙනත් නමකින් ගොනුව ආචයනය කර දේ.
(2) 'save as' විකල්පය මුල් නමින් ම හෝ වෙනත් නමකින් හෝ ආචයනය කර දේ.
(3) 'control + V' යතුරු සංයෝජනය මුල් නමින් ම ගොනුව ආචයනය කර දේ.
(4) 'control + C' යතුරු සංයෝජනය මුල් නමින් ම ගොනුව ආචයනය කර දේ.

24. පැතුරුම්පත් (spreadsheet) මෘදුකාංග සම්බන්ධයෙන් පහත දී ඇති වගන්ති අතුරෙන් නිවැරදි වන්නේ කුමක් ද?
A - පැතුරුම්පත්වල දත්ත පේළි හා තීරු ලෙස පෙන්වයි.
B - පේළියක හා තීරුවක ඡේදනය කෝෂයක් ලෙස හඳුන්වනු ලබයි.
C - වැඩපතක 'Home' පිහිටුවීමේ කෝෂ ලිපිනය 1A වේ.
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

25. වැඩපතක ඇති කෝෂවල අගයයන් පහත පරිදි දී ඇත.
A1 = 2 B1 = 3 C1 = 4 D1 = 5
=(A1+B1)/C1*D1 යන සූත්‍රය B4 කෝෂයේ ඇතුළත් කර ඇත. B4 හි දිස්වෙන අගය කුමක් ද?
(1) 3.25 (2) 4 (3) 4.25 (4) 6.25

26. සමර්පන මෘදුකාංග සම්බන්ධයෙන් පහත දී ඇති වගන්ති සලකන්න:
A - කදා දැක්ම (slide show)ක් අතරතුර දී P යතුර එබීමෙන් පෙර කදාව දැක ගත හැකි වේ.
B - 'CTRL + N' යතුරු සංයෝජනය භාවිතයෙන් නව කදාවක් ඇතුළත් කළ හැකි වේ.
C - තිරය මත එක් කදාවකට වැඩියෙන් දැක ගැනීම සඳහා කදා තේරීමේ දැක්ම (Slide sorter view) භාවිත කළ හැකිය.
ඉහත වගන්ති අතුරෙන් කවරක් නිවැරදි වන්නේ ද?
(1) A හා B පමණි. (2) A හා C පමණි. (3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

27. පාසලක දෛනික කාර්යාලීය කටයුතු සඳහා පරිගණක යෙදුම් සහායකවරයකුගේ සේවාව ලබා ගැනීමට තීරණය කරනු ලබයි. පහත සඳහන් කුමන ක්ෂේත්‍රයක ලබා ඇති පළපුරුද්ද, අයදුම්කරුවකු සඳහා වඩාත් යෝග්‍ය වන්නේ ද?
(1) පරිගණක ක්‍රම ලේඛනය සහ නිදොස් කිරීම
(2) ජාල පරිපාලනය
(3) වදන් සැකසුම හා පැතුරුම්පත් වැනි කාර්යාල ස්වයංකරණ මෘදුකාංග භාවිත කිරීම
(4) තොරතුරු තාක්ෂණ කළමනාකරණය

28. පරිගණකයක කිනම් කොටසක් (components) දත්ත ක්‍රියාකාරකම් සලසයි ද?
(1) මධ්‍ය සැකසුම් ඒකකය (2) ප්‍රධාන මතක ඒකකය
(3) ආදාන ඒකකය (4) ද්විතීයික ආචයන ඒකකය

29. අන්තර්ජාලයට ප්‍රවේශ වීම සඳහා අත්‍යවශ්‍ය ම **නොවන්නේ** පහත දැ අතුරෙන් කුමක් ද?
(1) IP ලිපිනය (2) ජාල අතුරු මුහුණත්පත
(3) වෙබ් අතරික්සුව (4) අන්තර්ජාල සේවා සැපයුම්කරුවන්ගේ සේවා

30. පහත දැක්වෙන සංසිද්ධිය සලකන්න:
"පොදු පරිගණක විද්‍යාගාරයක ඇති පරිගණකයක් තුළ, X නම් වූ පරිශීලකයකු මුර පදයක් මගින් ආරක්ෂා කර ආචයනය කරනු ලැබූ ගොනුවකට Y නම් වෙනත් පරිශීලකයකු ප්‍රවේශ වී වෙනස්කම් කරනු ලැබ ඇත."
ඉහත සංසිද්ධියට වඩාත් ම හේතු සහගත වන්නේ පහත දැක්වෙන කවරක් ද?
(1) ගොනුව සඳහා දී ඇති නම ඉතා කෙටි ය.
(2) X පරිශීලක විසින් දී ඇති මුර පදය සරල සහ පහසුවෙන් නිශ්චය කළ හැකි එකකි.
(3) මුල් ගොනුවේ පිටපතක් ලබා ගැනීමට X පරිශීලකට අමතක වී ඇත.
(4) පරිශීලක තමන්ට අයත් නොවන ෆෝල්ඩරයක ගොනුව ආචයනය කර ඇත.

31. 1101101, 1101001, 1110010 යන ද්විමය සංඛ්‍යා තුනෙහි අවරෝහණ පටිපාටිය වන්නේ,
(1) 1110010, 1101101, 1101001 (2) 1101101, 1101001, 1110010
(3) 1110010, 1101001, 1101101 (4) 1101001, 1101101, 1110010

32. 1960 ගණන්වල සිට පරිගණක දෘඩාංගවල පිරිවැය (cost ) සැලකිය යුතු ලෙස අඩුවීමක් දක්නට ලැබෙන අතර මෘදුකාංගවල පිරිවැය සංසන්දනාත්මක ලෙස වැඩි වන බව අපර්ණා දැන ගනී. මෙයට හේතු ලෙස ඇය මෙසේ පහදනු ලබයි.
A - තාක්ෂණයේ උසස් දියුණුව දෘඩාංග පිරිවැය අඩු කරනු ලබයි.
B - මෘදුකාංගවල සංකීර්ණ බව ඉහළ යාම එහි පිරිවැය ඉහළ නංවයි.
ඉහත හේතු සම්බන්ධයෙන් පිළිගත හැක්කේ පහත කවර පිළිතුර ද?
(1) A සහ B දෙකම වලංගු ය. (2) A වලංගු වන අතර B වලංගු නොවේ.
(3) A වලංගු නොවන අතර B වලංගු වේ. (4) A සහ B යන දෙකම වලංගු නොවේ.

**33.** දී ඇති ගැලීම් සටහනේ ඇති තර්කණය නිරූපණය වන්නේ පහත සඳහන් කවර පිළිතුරෙන් ද?

(1)
```
Do A
If B Then
  Do C
Else
  Do D
Endif
```

(2)
```
Do A
While Not(B)
  Do D
Endwhile
  Do C
```

(3)
```
Do A
While B
  Do D
Endwhile
  Do C
```

(4)
```
Do A
If Not(B) Then
  Do C
Endif
  Do D
```




**34.** දී ඇති අනුපිළිවෙළට පහත දක්වා ඇති ප්‍රකාශ ක්‍රියාත්මක වූ විට X, Y හා Z හි අගයයන් මොනවා ද?

```
X = 7;
Y = 14;
Z = 0;
Z = Y - X;
Y = X;
```

(1) X = 0, Y = 7, Z = 0
(2) X = 7, Y = 14, Z = 7
(3) X = 7, Y = 7, Z = 7
(4) X = 7, Y = 7, Z = 0

**35.** සමාජ මාධ්‍ය අඩවියක දී හමුවුණු රාජන් නමැති මිතුරකු මුණගැසීමට යන බව කමල්, අරුන් වෙත පවසයි. රාජන් හමුවට යාමට පෙර පහත සඳහන් දෑ කරන ලෙස අරුන්, කමල්ගෙන් ඉල්ලා සිටී.

A - සමාජ මාධ්‍ය අඩවියේ රාජන් සපයා තිබූ ඔහුගේ පෞද්ගලික තොරතුරු සත්‍යාපනය කරගන්නා ලෙස
B - සමාජ මාධ්‍ය අඩවියක් ඇසුරෙන් හඳුනාගත් මිතුරකු හමුවට යන බව කමල්ගේ දෙමාපියන් හා පැවසීම
C - හමුව සඳහා කමල්ගේ තවත් මිතුරකුට ආරාධනා කිරීම

කමල්ගේ ආරක්ෂාව සඳහා ඉහත සඳහන් වගන්ති ඇසුරෙන් කවරක් හේතු සහගත වේ ද?

(1) A සහ B පමණි.
(2) A සහ C පමණි.
(3) B සහ C පමණි.
(4) A, B සහ C යන සියල්ල ම ය.

**36.**




| A | B |
|---|---|
| 0 | 0 |
| 0 | 1 |
| 1 | 0 |
| 1 | 1 |

දී ඇති වගුවේ දක්වා ඇති ආදාන ඉහත පෙන්වා ඇති තර්කණ පරිපථයට ලබා දුන් විට පිළිවෙළින් ලැබෙන ප්‍රතිදාන මොනවා ද?

(1) 0, 0, 0, 0
(2) 0, 0, 0, 1
(3) 0, 1, 0, 1
(4) 1, 0, 0, 0

- ප්‍රශ්න අංක **37** සහ **38** සඳහා පහත දැක්වෙන ක්‍රමලේඛ ඛණ්ඩය සලකා බලන්න:

```
Count = 0;
Num = 0;
While Count < 4
    Num = Num + Count;
    Count = Count + 1;
Endwhile
Output Count;
Output Num;
```

**37.** ඉහත ක්‍රමලේඛ ඛණ්ඩය ක්‍රියාත්මක වීම සම්පූර්ණ වූ විට 'Num' හා 'Count' හි අගයන් මොනවා ද?

(1) Num = 3, Count = 4
(2) Num = 4, Count = 3
(3) Num = 6, Count = 3
(4) Num = 6, Count = 4

**38.** ඉහත ක්‍රමලේඛ ඛණ්ඩයේ While ලූපය කොපමණ වාර සංඛ්‍යාවක් ක්‍රියාත්මක වී ද?

(1) 2
(2) 3
(3) 4
(4) 5

**39.** එක්තරා කේත ක්‍රමයක දී A සිට Z දක්වා වූ ඉංග්‍රීසි අක්ෂර අනුයාත ද්වීමය සංඛ්‍යා ලෙස කේත කර ඇත. A සංඛ්‍යාව 1000000 ලෙස කේත කර ඇත. C අක්ෂරය සඳහා පවතින ද්වීමය පටිපාටිය/කේතය කුමක් ද?

(1) 1000001 (2) 1000010 (3) 1000011 (4) 1000101

**40.** මෙහෙයුම් පද්ධතියක දී පරිශීලක ගිණුම් සම්බන්ධයෙන් පහත දී ඇති වගන්ති අතුරෙන් නිවැරදි වන්නේ කුමක් ද?

A - එක් එක් පුද්ගලයාට තමන්ගේ පරිශීලක ගිණුමට පරිශීලක නාමය හා මුරපදය සමගින් ප්‍රවේශ විය හැකි ය.

B - පරිශීලක ගිණුමක් යනු ඔබට ප්‍රවේශ විය හැකි ගොනු හා ෆෝල්ඩර් ගැන කියැවෙන සහ පරිශීලකට අභිමත පරිදි වෙනස් කළහැකි පිහිටුම් (Setting) ගැන කියැවෙන තොරතුරුවල එකතුවකි.

C - පරිශීලක ගිණුමකින් ඔබට පරිගණකයක් තවත් පුද්ගලයින් හා හවුලේ භාවිතය සඳහා ඉඩකඩ ලබා නොදේ.

(1) A සහ B පමණි. (2) A සහ C පමණි.

(3) B සහ C පමණි. (4) A, B සහ C යන සියල්ල ම ය.

* *

GIT | 01 | S | I, II

සාමාන්‍ය තොරතුරු තාක්ෂණ විභාගය, 2016
பொதுத் தகவல் தொழினுட்பவியல், 2016
General Information Technology Examination, 2016

සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I, II
பொதுத் தகவல் தொழினுட்பவியல் I, II
General Information Technology I, II

## සාමාන්‍ය තොරතුරු තාක්ෂණය II

* ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.

**1.** (අ) එක්තරා පාසලක පරිගණක විද්‍යාගාරයෙහි ආරක්ෂාව සඳහා විද්‍යාගාරය භාවිතයට අවසර ඇති සිසුන් විද්‍යාගාරයෙහි දොරෙහි සවිකර ඇති උපාංගයකට තමන්ගේ පාසලට ඇතුළත් වීමේ අංකය 'X' සහ මුරපදය 'Y' ඇතුළත් කළ යුතු වේ. ඇතුළත් වීමේ අංකය සහ මුරපදය යන දෙක ම නිවැරදි නම්, දොර 'Z' විවෘත වේ. එයින් එකක් හෝ දෙක ම වැරදි නම් දොර විවෘත නොවේ.

අදාළ අවස්ථා පහත දැක්වෙන පරිදි සලකන්න.

| ක්‍රියාදාමය | අවස්ථාව |
|---|---|
| ඇතුළත් වීමේ අංකය 'X' සහ මුරපදය 'Y' නිවැරදියි. | '1' |
| ඇතුළත් වීමේ අංකය 'X' හෝ මුරපදය 'Y' හෝ දෙක ම හෝ වැරදියි. | '0' |
| දොර 'Z' විවෘත වේ. | '1' |
| දොර 'Z' විවෘත නොවේ. | '0' |

(i) පහත දැක්වෙන වගුව ඔබේ පිළිතුරු පොතට පිටපත් කර 'Z' තීරුව සම්පූර්ණ කරන්න.

| X අවස්ථාව | Y අවස්ථාව | Z අවස්ථාව |
|---|---|---|
| 0 | 0 | |
| 0 | 1 | |
| 1 | 0 | |
| 1 | 1 | |

(ii) ඉහත වගුව මඟින් නිරූපණය වන තර්කන ද්වාරය අඳින්න. ආදාන සහ ප්‍රතිදානය පැහැදිලි ව දක්වන්න.

(ආ) පහත දැක්වෙන ප්‍රකාශනයට අදාළ තර්කන පරිපථ සටහන අඳින්න.

(A AND (NOT)B) OR NOT(A) = C

(ඉ) එක්තරා පන්තියක සිසුන් කණ්ඩායම් තුනක් වෙනුවෙන් සුදුසු මෙන් ම ලබාගත හැකි පරිගණකයක් භාවිත කර **එකම කාල පරිච්ඡේදය තුළ දී** සම්පූර්ණ කිරීම සඳහා පහත දැක්වෙන ක්‍රියාකාරකම් පවරා ඇත.

(i) පැළෑටිවල වැඩීමට අදාළ දත්ත ක්ෂේත්‍රයේ දී ඇතුළත් කිරීම

(ii) පොළොවට ඉහළ මට්ටමක දී පක්ෂීන්ගේ හඬ වාර්තාගත කිරීම, පරිසරයේ දී ඡායාරූප ගැනීම සහ අදාළ දත්ත ඇතුළත් කිරීම

(iii) CR පොතක ලියා ඇති දත්ත පරිගණකයකට ඇතුළත් කිරීම

මෙම පන්තියට මේස පරිගණකයක්, උකුල් පරිගණකයක් සහ අත්ල මත පරිගණකයක් ලබා දී ඇත. මෙම එක් එක් පැවරුම සඳහා වඩාත් ම සුදුසු පරිගණක වර්ගය අදාළ අංකය ඉදිරියෙන් ලියා දක්වන්න.

(ඊ) පහත දැක්වෙන සංසිද්ධිය සලකන්න:

එක්තරා සිසුවියකට Ⓟ නම් වදන් සැකසුම් මෘදුකාංගයක් භාවිතයෙන් වාර්තාවක් පිළියෙල කිරීමට අවශ්‍යව ඇත. වාර්තාව යතුරු ලියනය කිරීමට පෙර ඇය Ⓠ නම් ප්‍රතිවයිරස මෘදුකාංගයක් මඟින් පරිගණකයෙහි දෘඪ ඩිස්කය පරිලෝකනය (scans) කරයි. වාර්තාව සම්පූර්ණ කිරීමෙන් පසුව ඇය විසින් Ⓢ නම් මෙහෙයුම් පද්ධතිය මඟින් සපයා ඇති Ⓡ නම් උපස්ථ මෘදුකාංගය භාවිත කර එක්තරා ෆෝල්ඩරයක ඇති සියලු ම ගොනු, සැනෙළි මතකයකට පිටපත් කරනු ලබයි.

[අවසැනි පිටුව බලන්න.

ඉහත ඡේදයෙහි Ⓟ, Ⓠ, Ⓡ සහ Ⓢ ලෙස නම් කර ඇති මෘදුකාංග පහත දී ඇති ලැයිස්තුවෙහි ඇති කුමන මෘදුකාංග වර්ගයට අයත් වේ දැයි හඳුනාගෙන ලියා දක්වන්න.

ලැයිස්තුව: යෙදුම් මෘදුකාංග (Application software), පද්ධති මෘදුකාංග (Systems software), උපයෝගිතා මෘදුකාංග (Utility software)

**2.** (අ) (1) සිට (6) තෙක් අංක කර ඇති හිස්තැන් සහිත පහත ඡේදය සලකන්න:

අමාලි විසින් .................. (1) .................. හි ....................... (2) ....................... තුළ වෙබ් අඩවියෙහි .................. (3) .................. ඇතුළත් කර විභාග දෙපාර්තමේන්තුවෙහි වෙබ් අඩවියට පිවිසෙන ලදී. මුල් වෙබ් පිටුවෙහි ඇති .................. (4) .................. මත ක්ලික් කර ඇය විසින් අදාළ වෙබ් පිටුව ලබා ගන්නා ලදී. විභාග දෙපාර්තමේන්තුවෙහි වෙබ් අඩවිය ..................... (5) ............... හි කොටසක් වන අතර ..................... (6) ............... සේවාවෙන් තොර ව අපට වෙබ් අඩවියට පිවිසිය නො හැකි ය.

ඉහත ඡේදයෙහි ඇති හිස්තැන් පිරවීමට වඩාත් ම සුදුසු පද පහත දී ඇති ලැයිස්තුවෙන් හඳුනා ගන්න.

ලැයිස්තුව: ලිපින තීරුව (address bar), විද්‍යුත් තැපැල (email) අධිසන්ධානය (hyperlink), අන්තර්ජාලය (Internet), ඒකාකාරී සම්පත් නිශ්චායකය (URL), වෙබ් අතරික්සුව (web browser), ලෝක විසිරි වියමන (WWW)

සටහන: හිස්තැනට අදාළ අංකය ඉදිරියෙන් අදාළ පදය ලියා දක්වන්න.

(ආ) අස්මා විසින් මෑතක දී කරන ලද යාල වනෝද්‍යානයෙහි සංචාරයේ දී අලි රංචුවක ඡායාරූපයක් ලබා ගන්නා ලදී. තමන් ලැබූ අත්දැකීම්වල තොරතුරු සහ ලබා ගත් ඡායාරූපය විද්‍යුත් තැපැල මගින් තම හිතමිතුරන් සමග හුවමාරු කර ගැනීමට ඇයට අවශ්‍ය ව ඇත. මෙහි දක්වා ඇති ආකාරයේ විද්‍යුත් තැපැල් නව කවුළුවක් ඇය විසින් විවෘත කරන ලදී. විද්‍යුත් තැපැල් කවුළුවෙහි ක්ෂේත්‍ර සහ අයිකන A සිට J දක්වා නම් කර ඇත.




(i) අස්මා විසින් යවනු ලබන විද්‍යුත් තැපෑලෙහි ශීර්ෂය 'මගේ යාල සංචාරය' වේ. ඇයගේ විද්‍යුත් ලිපියෙහි එම ශීර්ෂය ඇතුළත් කළ යුතු වන ක්ෂේත්‍රයට අදාළ අකුර ලියා දක්වන්න.

(ii) ඇයගේ ඡායාරූපය ඇමිණිය යුතු විද්‍යුත් තැපෑලෙහි ඇති මෙවලමට අදාළ අකුර ලියා දක්වන්න.

(iii) තම විද්‍යුත් ලිපිය අමිල වෙත යැවීමට අස්මාට අවශ්‍ය වේ. අමිලගේ විද්‍යුත් තැපැල් ලිපිනය ඇතුළත් කළ යුතු වන ක්ෂේත්‍රයට අදාළ අකුර ලියා දක්වන්න.

(iv) තම විද්‍යුත් ලිපිය වරුණි වෙත යැවීමට ද අස්මාට අවශ්‍ය වේ. එසේ වුවත් තමා අමිලට යැවූ ලිපියෙහි පිටපතක් වරුණිට ද යවා ඇති බව අමිල නොදැන සිටිය යුතු බව අස්මා තීරණය කරයි. වරුණිගේ විද්‍යුත් තැපැල් ලිපිනය ඇතුළත් කළ යුතු වන ක්ෂේත්‍රයට අදාළ අකුර ලියා දක්වන්න.

(v) පසු දින අමිල විසින් අස්මාගේ සංචාරය පිළිබඳ තොරතුරු සහ ඡායාරූප එවීම ගැන ඇයට ස්තුති කරමින් පිළිතුරු ලිපියක් යවනු ලබයි. අමිල විසින් තමන්ට එවන ලද විද්‍යුත් තැපැල් ලිපිය අස්මා සොයා ගත යුතු වන්නේ ඇයගේ විද්‍යුත් තැපැල් ගිණුමෙහි කුමන ෆෝල්ඩරයෙන් ද?

(vi) දින දෙකකට පසුව තමන් විසින් අමිලට සහ වරුණිට යවන ලද විද්‍යුත් තැපැල් ලිපියට නැවත ප්‍රවේශ වීමට අස්මාට අවශ්‍ය වේ. මෙම විද්‍යුත් තැපැල් ලිපිය අස්මා සොයා ගත යුතු වන්නේ ඇයගේ විද්‍යුත් තැපැල් ගිණුමෙහි කුමන ෆෝල්ඩරයෙන් ද?

(ඉ) හිස්තැන් සහිත නාමාවලි රුක් ව්‍යුහයක් රූපසටහනෙහි දැක්වේ.




එම රූපසටහන ඔබගේ පිළිතුරු පොතට පිටපත් කර හිස් කොටුවලට අදාළ ලේබල පහත දී ඇති තොරතුරු සලකා බලා පුරවන්න.

(i) 'විද්‍යාව' යනු විෂයය මව් නාමාවලියෙහි උප නාමාවලියකි.

(ii) 'ජ්‍යාමිතිය' හි මව් නාමාවලිය 'ගණිතය' වේ.

/තෙවැනි පිටුව බලන්න.

**3.** (අ) සමර්පන මෘදුකාංගවලට සම්බන්ධ හිස්තැන් සහිත පහත දැක්වෙන වගන්ති සලකන්න:

(i) ................................ ක් ආරම්භ කිරීම යතුරු පුවරුවේ F5 යතුර තද කිරීමෙන් කළ හැකි වේ.

(ii) කදාවක දිශානතිය මාරු කිරීම ................................ කවුළුව හරහා කරගත හැකි වේ.

(iii) එක් කදාවක සිට ඊළඟ කදාවට ගමන් කරන විට කදා දැකුම් දර්ශකයෙහි (slide show) ඇතිවන සජීවන ආකාරයේ ආවරනවලට ................................ කරනු ලැබේ.

(iv) කදා සංක්ෂිප්ත ආකාරයට දර්ශනය වීම ................................ දර්ශනයකි.

ඉහත වගන්තිවල හිස්තැන් පිරවීම සඳහා වඩාත් යෝග්‍ය පද පහත දී ඇති පද ලැයිස්තුවෙන් හඳුනාගන්න.

පද ලැයිස්තුව : කදා දැක්ම/සජීවන/උදව් කවුළුව/සැලසුම් අච්චුව/පිටු සැකැස්ම/කදා සංක්‍රාන්තිය/කදා තෝරනය/නව කදාව

සටහන : ප්‍රශ්න අංකයට ඉදිරියෙන් අදාළ පද ලියන්න.

(ආ) වදන් සකසන මෘදුකාංගයක් භාවිත කර අංකිත වශයෙන් හැඩසව් කරන ලද පාඨ ලේඛනයක් පහත **1 රූපයේ** දැක්වේ. ලේඛනයේ තවදුරටත් හැඩසව් කළ යුතු කොටස් A-F දක්වා ලේබල මගින් දක්වා ඇත.

**A** — How polluted is YOUR country?

**B**
A staggering 90 per cent globally are breathing poor quality air.
Pollution is blamed for more than six million deaths a year, new stats show.
The problem is worst in cities, but rural air is worse than many think.
Data 'is enough to make all of us extremely concerned,' experts have said.

**C**
Nine out of ten people globally are breathing poor quality air, the World Health Organization (WHO) said yesterday.
In a staggering report, calling for dramatic action against pollution that is blamed for killing more than 16,000 Brits and six million people worldwide, every year.
New data in a report from the UN's global health body 'is enough to make all of us extremely concerned,' Maria Neira, the head of the WHO's department of public health and environment, told reporters.

**D**
WHO released an interactive map (**E**) showing the exposure to pollutants known as PM2.5 for all countries.
It also shows values for pollutants in various cities and towns.
The problem is most acute in cities, the report found, but air in rural areas is worse than many think, WHO experts said.
Poorer countries have much dirtier air than the developed world, according to the report, but pollution 'affects practically all countries in the world and all parts of society', Mrs Neira said in a statement.

**F**
Read more:
http://www.dailymail.co.uk/sciencetech/article-3809171/Over-90-world-breathing-bad-air-WHO.html#ixzz4LeaZK38e

**1 රූපය**

**2 රූපයෙහි** දක්වා ඇත්තේ දර්ශීය වදන් සකසන මෘදුකාංගයක පවතින හැඩසව් කිරීමේ මෙවලම් කිහිපයකි. පහත දක්වා ඇති කාර්ය සම්පූර්ණ කිරීමට අවශ්‍ය මෙවලම් 1 - 17 දක්වා ලේබල අතුරෙන් තෝරා ලියන්න.
(සටහන: අවශ්‍ය සංඛ්‍යාවට වඩා ලේබල ලියා ඇති විට ලකුණු **නොලැබෙන** බව සලකන්න.)




**2 රූපය**

(i) **A** ලෙස දක්වා ඇති ලේඛනයේ මාතෘකාව තදකළ පැහැති වීමට

(ii) ලේඛනයේ මාතෘකාව මධ්‍යගත කිරීමට

(iii) ලේඛනයේ මාතෘකාවෙහි අක්ෂර විශාලත්වය 20 කිරීමට

(iv) **B** ලෙස දක්වා ඇති වගන්තිවල පෙනුම බුලට් ලැයිස්තුවක් බවට පත් කිරීමට

(v) **C** සහ **D** ලෙස නම් කර ඇති ඡේද වමට එකලස් කිරීමට (left justify)

(vi) **E** සහ **F** ලෙස නම් කර ඇති පාඨ (text) අධිසන්ධාන (hyperlinks) බවට පත් කිරීමට

(vii) ලේඛනයේ අක්ෂර (spellings) පරීක්ෂා කිරීමට

(ඉ) පාසලක ආදි ශිෂ්‍ය සංගමය විසින් එම කාර්යාලයේ කටයුතු කරගෙන යාම සඳහා එක් පරිශීලකයකුට පමණක් අවසර ඇති ස්වයංක්‍රියව කාර්යාල කටයුතු කිරීමේ මෘදුකාංගයක් (Automation software) මිල දී ගනියි. ආදි ශිෂ්‍ය සංගමයේ අරමුදලින් මෘදුකාංගය මිල දී ගත් බැවින් මෘදුකාංගයේ එක් පිටපත බැගින් එක් එක් සාමාජිකයාට ලබා දීමට සංගමයේ ලේකම් තීරණය කරයි.

(i) සංගමයේ ලේකම්ගේ තීරණය පිළිගත නොහැකි වන්නේ ඇයි දැයි පැහැදිලි කරන්න.

(ii) අඩු මිලට හෝ නොමිලයේ කාර්යාලයීය කටයුතු ස්වයංක්‍රිය ව කිරීමේ මෘදුකාංගයේ (Automation software) පිටපත් ලබා ගැනීමට එක් විසඳුමක් ලබා දෙන්න.

**4.** (අ) වසර 2010 - 2015 තුළ දී ලොකු ලූනු වගා කරන ලද ගොවීන්ගේ සංඛ්‍යාව පහත පෙන්වා ඇති පැතුරුම්පත් කොටසේ දැක්වේ.

| | A | B | C | D | E | F | G | H |
|---|---|---|---|---|---|---|---|---|
| 1 | Number of farmers Cultivated Big Onion 2010 - 2015 | | | | | | | |
| 2 | District | 2010 | 2011 | 2012 | 2013 | 2014 | 2015 | Average |
| 3 | Anuradhapura | 4,798 | 3,239 | 4,076 | 4,432 | 5,557 | 4,590 | |
| 4 | Mahaweli H | 2,418 | 1,391 | 2,831 | 1,444 | 3,636 | 2,249 | |
| 5 | Matale | 3,653 | 3,426 | 5,612 | 4,155 | 5,452 | 4,634 | |
| 6 | Polonnaruwa | 223 | 153 | 322 | 305 | 633 | 707 | |
| 7 | Total | | | | | | | |
| 8 | | | | | | | | |
| 9 | Source: | http://www.statistics.gov.lk | | | | | | |
| 10 | | | | | | | | |

(i) 2010 වර්ෂයේ දී ලොකු ලූනු වගා කළ මුළු ගොවීන් සංඛ්‍යාව B7 කෝෂයේ ලබා ගැනීම සඳහා *=function1(cell1:cell2)* ආකාරයේ සූත්‍රයක් භාවිත කරනු ලැබේ.
ඉහත සූත්‍රයෙහි *function1*, *cell1* සහ *cell2* සඳහා වඩාත් ම සුදුසු පද ලියා දක්වන්න.

(ii) B7 කෝෂයෙහි ඇති සූත්‍රය C7 සිට G7 දක්වා වන කෝෂ සඳහා පිටපත් කළ යුතුව ඇත. 1 - 3 දක්වා පහත පෙන්වා ඇති පියවර මේ සඳහා භාවිත කර ඇත. කෙසේ වෙතත් මෙම පියවර නිවැරදි අනුපිළිවෙළට පෙන්වා නොමැත.

1. fill handle මත ක්ලික් කරන්න.
2. G7 දක්වා fill handle ඇද ගෙන යන්න.
3. B7 කෝෂය මත ක්ලික් කරන්න.

1 සිට 3 තෙක් පියවර නිවැරදි අනුපිළිවෙළට ලියන්න.

(iii) B7 කෝෂයෙහි ඇති සූත්‍රය C7 කෝෂයට පිටපත් කළ විට C7 කෝෂයෙහි දර්ශනය වන සූත්‍රය කුමක් ද?

(iv) අනුරාධපුර දිස්ත්‍රික්කයේ ගොවීන්ගේ සාමාන්‍ය අගය H3 කෝෂයෙන් ලබා ගත යුතුව ඇත. මේ සඳහා H3 කෝෂයේ *=function2(cell3:cell4)* ආකාරයේ සූත්‍රයක් ලිවිය යුතු ය.
ඉහත සූත්‍රයෙහි *function2*, *cell3* සහ *cell4* සඳහා වඩාත් ම සුදුසු පද ලියා දක්වන්න.

(v) 2010 සිට 2015 දක්වා ලොකු ලූනු වගා කළ ගොවීන්ගේ සංඛ්‍යාවෙහි වෙනස් වීම එක් එක් දිස්ත්‍රික්කය සඳහා වෙන වෙන ම පෙන්වීමට වඩාත් ම සුදුසු ප්‍රස්තාර වර්ගය කුමක් ද?

(ආ) එක්තරා පොත් සාප්පුවකට පොත් පත්වල සහ පොත් සපයන්නන්ගේ විස්තර අඩංගු වාර්තා තබා ගැනීමට අවශ්‍ය ව ඇත. මේ සඳහා දත්ත සමුදාය පද්ධතියක් සකසා ගැනීමට එහි කළමනාකරු ඔබගේ සහාය පතයි. ඔබ විසින් සකසන ලද පොත් වගුවේ කොටසක් පහත දැක්වේ.

| ISBN | Title | Author | Edition | Publisher | Price | SupID |
|---|---|---|---|---|---|---|
| 9780134378183 | Essentials of MIS | Laudon | 19th | Pearson | Rs. 10900 | Sup01 |
| 9780132146050 | Electronic Commerce | Turban | 7th | Pearson | Rs. 17000 | Sup02 |
| 9781305867819 | Electronic Commerce | Schneider | 9th | Cengage | Rs. 1500 | Sup02 |
| 9781111529116 | New Perspectives on the Internet | Schneider | 9th | Cengage | Rs.17000 | Sup03 |

(i) ISBN, පොතෙහි නම (Title), සංස්කරණය (Edition) හා මිල (Price) සඳහා ගැළපෙන ක්ෂේත්‍ර ප්‍රරූප ලියන්න.

(ii) ප්‍රාථමික යතුර සඳහා සුදුසු වන ක්ෂේත්‍රයක් ලියන්න.

[මෙකොළොස්වැනි පිටුව බලන්න.

(iii) පහත කාර්ය ඉටු කර ගැනීම සඳහා කුමන දත්ත සමුදාය සංරචකය (object) භාවිත කළ යුතු ද යන්න ලියන්න.

(1) පොත් වගුවේ දත්ත ඇතුළත් කිරීම හෝ සංස්කරණය කිරීම

(2) ප්‍රකාශකයන්ට අදාළ ව විකුණා ඇති මුළු පොත් ගණන් දැක්වෙන හැඩසවි ගන්වන ලද ප්‍රතිදානයක් පෙන්වීම

(3) කර්තෘ ලෙස 'Laudon' ඇතුළත් පොත්වල නම් පෙන්වීම

5. (අ) පාසල් පුස්තකාලයක ඇති සියලු පොත් 'පෙළ' පොත් ('text' books), 'අතිරේක' කියවීම් පොත්, ('supplementary' reading books) සහ 'වෙනත්' පොත් ('other' books) ලෙස වර්ග තුනකට වර්ගීකරණය කර ඇත. පුස්තකාලයේ ඇති මුළු පොත් සංඛ්‍යාව 1000ක් වේ. එක් එක් වර්ගයේ ඇති පොත් සංඛ්‍යාව ගණනය කර මුද්‍රණය කිරීම සඳහා පරිගණක ක්‍රමලේඛයක් (program ) භාවිත කරනු ලැබේ. මේ කර්තව්‍යය සඳහා ඇඳි ගැලීම් සටහන (flowchart) Ⓐ සිට Ⓘ දක්වා ලේබල කරන ලද හිස්තැන් සහිත ව පහත පරිදි පෙන්වා ඇත.

පහත දී ඇති ලැයිස්තුවෙහි ඇති පද අතුරෙන් Ⓐ සිට Ⓘ දක්වා වූ ලේබල සඳහා උචිත පද තෝරා ලියන්න.

{text-bks. other-bks, supp-bks, 1000, yes, no, book-type}



(ආ) එක්තරා දිනුම් ඇදීමක දී 'රතු', 'කළු' හා 'සුදු' පැහැති ටෝකන් (token) පත් පෙට්ටියකට දමනු ලැබේ. සෑම සහභාගීවන්නකුට ම තමන් ලබන ටෝකනයේ වර්ණය අනුව ත්‍යාගයක් හිමිවෙයි. මෙම ක්‍රියාවලිය පහත දක්වා ඇති ව්‍යාජකේතය (pseudo code) මගින් පෙන්වනු ලැබේ.

```
start
      get token
      if token = "red" then
                  gift = "flash memory stick"
      else if token ="black" then
                  gift ="wallet"
         else
                  gift ="ball point pen"
         endif
      endif
end
```

ඉහත ව්‍යාජ කේතය (pseudo code) නිරූපණය කරන ගැලීම් සටහන අඳින්න.

සටහන: ව්‍යාජ කේතයේ දී ඇති පද ඒ අයුරින් ම ගැලීම් සටහනේ දී භාවිත කළ යුතු වේ.

**6.** (අ) යම් සමාගමක් විවිධ රටවල ඇති එහි ශාඛා නියෝජිතයින් සහභාගී වන මාසික ප්‍රගති සමාලෝචන රැස්වීම් පැවැත්වීම සඳහා වීඩියෝ සම්මන්ත්‍රණ යොදා ගනු ලබයි.

(i) වීඩියෝ සම්මන්ත්‍රණයක් සඳහා අත්‍යවශ්‍ය අයිතම **තුනක්** ලියන්න.

(ii) සාම්ප්‍රදායානුකූල මුහුණට-මුහුණ රැස්වීම්වලට වඩා වීඩියෝ සම්මන්ත්‍රණවල ඇති වාසි **දෙකක්** ලියන්න.

(ආ) මාර්ගගත සාප්පු සවාරිය (On-line shopping) ජනප්‍රිය වෙමින් පවතී. සාමාන්‍ය සාප්පු සවාරිය සමග මාර්ගගත සාප්පු සවාරිය සසඳන විට මාර්ගගත සාප්පු සවාරියේ ඇති වාසි **දෙකක්** හා අවාසි **දෙකක්** විස්තර කරන්න.

(ඉ) සිල්ලර කඩයක අයිතිකරුවකු ඔහුගේ දෛනික වැඩ කටයුතු සඳහා පරිගණකයක් මිල දී ගැනීමට තීරණය කරයි. ඔහු තම අවශ්‍යතා සපුරා ගැනීම සඳහා පරිගණකයක් මිල දී ගැනීමේ දී සලකා බැලිය යුතු වැදගත් ගුණාංග හා අවශ්‍යතා පිළිබඳ ව විමසීමක් ඔබගෙන් කරනු ලබයි.

පරිගණකයක් මිල දී ගැනීම සලකා බැලීම සඳහා ප්‍රයෝජනවත් වන තාක්ෂණික ගුණාංග **තුනක්** හා තාක්ෂණික නො වන ගුණාංග **තුනක්** ලියා දක්වන්න.

* * *